22090



පැරණි නිර්දේශය/பழைய பாடத்திட்டம்/Old Syllabus



OLD

64 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

දෙවන බස - සිංහල I, II
இரண்டாம் மொழி - சிங்களம் I, II
Second Language - Sinhala I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

## දෙවන බස - සිංහල I    இரண்டாம் மொழி - சிங்களம் I    Second Language - Sinhala I

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට උත්තර සපයන්න.
(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ උත්තරය තෝරා ගන්න.
(iii) ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
(iv) එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**கவனிக்க :**

(i) **எல்லா** வினாக்களுக்கும் விடை எழுதுக.
(ii) 1 தொடக்கம் 40 வரையுள்ள வினாக்கள் ஒவ்வொன்றிலும். (1), (2), (3), (4) என எண்ணிடப்பட்ட விடைகளில் **சரியான அல்லது மிகப் பொருத்தமான** விடையைத் தெரிவுசெய்க.
(iii) **உமக்கு வழங்கப்பட்டுள்ள விடைத்தாளில் ஒவ்வொரு வினாவுக்கும் உரிய வட்டங்களில் உமது விடையின் எண்ணை ஒத்த வட்டத்தினுள்ளே புள்ளடியை (X) இடுக.**
(iv) அவ்விடைத்தாளின் மறுபக்கத்தில் தரப்பட்டுள்ள மற்றைய அறிவுறுத்தல்களையும் கவனமாக வாசித்துப் பின்பற்றுக.

**Note :**

(i) *Answer **all** questions.*
(ii) *In each of the questions from **1** to **40**, pick one of the alternatives (1), (2), (3), (4) which is **correct or most appropriate.***
(iii) ***Mark a cross (X) on the number corresponding to your choice in the answer sheet.***
(iv) *Further instructions are given on the back of the answer sheet. Follow them carefully.*

● අංක 1 සිට 5 තෙක් ප්‍රශ්නවල **තද කළු අකුරෙන්** මුද්‍රිත පද වෙනුවට **කටවහර අනුව යෙදිය හැකි** වඩාත් සුදුසු පදය තෝරන්න.

1 தொடக்கம் 5 வரையுள்ள வினாக்களில் **தடித்த எழுத்தில்** தரப்பட்டுள்ள சொற்களுக்குப் பதிலாக **பேச்சு மொழிக்கு ஏற்றதாக இடத்தக்க** மிகவும் பொருத்தமான சொல்லைத் தெரிவு செய்க.

In questions **1** to **5**, select the most suitable word in **spoken form** for the words printed in **bold letters.**

1. **රාජනුත් එක්ක** මෙහෙට එන්න.
(1) රාජානෙක්ක (2) රාජනුත්තෙක්ක
(3) රාජනුත්තේක (4) රාජනුත්තේක්ක

2. මට **බල්බ් එකක්** දෙන්න.
(1) බල්බ්බෙකක් (2) බල්බෙකක් (3) බලබ්කෙකක් (4) බල්බේකක්

3. ඔයත් **මාත් එක්ක** එනවා ද?
(1) මාතෙක්ක (2) මාත්කෙක්ක (3) මාත්තෙක්ක (4) මාත්තේක

4. ඔයා කොළඹ **ගිහින් නැති ද?**
(1) ගිහින්නැද්ද? (2) ගිහිනැද්ද? (3) ගිහින්නේනැද්ද? (4) ගිහිනැතිද?

5. අද කොහේවත් **යන්න එපා.**
(1) යනේපා (2) යන්නේ එපා (3) යනඑපා (4) යන්නෙපා

[ 2 වැනි පිටුව බලන්න / பக். 2 ஐப் பார்க்க / see page two

- අංක **6** සිට **10** තෙක් ප්‍රශ්නවල ඇතුළත් වාක්‍ය **උපදේශය, පණිවුඩය, අවවාදය, විධානය, ප්‍රාර්ථනය** යන ඒවා අතුරෙන් කවරකට අයත් දැයි තෝරන්න.

**6** தொடக்கம் **10** வரையுள்ள வினாக்களில் இடம்பெறும் வாக்கியங்களை **அறிவுறுத்தல், தகவல், ஆலோசனை, கட்டளை, பிரார்த்தனை** என்பவற்றுள் எதற்குரியது எனத் தெரிவு செய்க.

Select the appropriate category from **instruction, message, advice, order** and **wish** for each sentence given in questions no. **6** to **10.**

**6.** විභාගයෙන් ඔබට ජය ලැබේවා!
(1) පණිවුඩය (2) ප්‍රාර්ථනය (3) විධානය (4) අවවාදය

**7.** ඉක්මනින් පන්තියට යන්න.
(1) ප්‍රාර්ථනය (2) අවවාදය (3) විධානය (4) පණිවුඩය

**8.** සෑම විට ම හොඳ දේවල් කරන්න.
(1) අවවාදය (2) ප්‍රාර්ථනය (3) පණිවුඩය (4) උපදේශය

**9.** වැරදි වැඩ කර ආයෙත් මා ළඟට එන්න එපා.
(1) ප්‍රාර්ථනය (2) අවවාදය (3) පණිවුඩය (4) උපදේශය

**10.** හෙට රැස්වීමට අනිවාර්යයෙන් එන්න කියන්න.
(1) පණිවුඩය (2) අවවාදය (3) විධානය (4) උපදේශය

- අංක **11** සිට **14** තෙක් ඇති වාක්‍යවල **හිස්තැනට ගැළපෙන වචනය** තෝරන්න.

**11** தொடக்கம் **14** வரையான வாக்கியங்களிலுள்ள **இடைவெளிகளுக்குப் பொருத்தமான சொல்லைத்** தெரிவு செய்க.

Select the **most suitable word to fill the blank** in each sentence in questions no. **11** to **14.**

**11.** උදෙන් ම .......................... අය අත් ඔසවන්න.
(1) නැගිටිනවා (2) නැගිට්ටේ (3) නැගිටින (4) නැගිටින්න

**12.** හෙට ඔයා පන්ති .......................... නැති ද?
(1) යනවානම් (2) යන්නේ (3) යනවා (4) යන්න

**13.** ඔයා නාට්‍යය .......................... එනවා ද?
(1) බලන්න (2) බලන (3) බලන්නේ (4) බලනු

**14.** ඔයා ප්‍රශ්නවලට උත්තර .......................... නැති ද?
(1) ලියනු (2) ලියනවා (3) ලියන්නේ (4) ලියන

- අංක **15** සිට **18** තෙක් ඇති පද පේළි අතුරෙන් **නිවැරදි ව යෙදී ඇති පදය** තෝරන්න.

**15** தொடக்கம் **18** வரையான வினாக்களிலுள்ள சொற்களுள் **சரியாக எழுதப்பட்டுள்ள சொல்லைத்** தெரிவு செய்க.

Select the **correct word** in each group of words in questions no. **15** to **18.**

**15.** (1) කඩ්ඩලය (2) කඩ්ටලය (3) කට්ඩලය (4) කට්ටලය

**16.** (1) දන්ත සායනය (2) දන්ද සායනය (3) දන්න සායනය (4) දත්ද සායනය

**17.** (1) කාන්දාරය (2) කාන්තාරය (3) තාන්දාරය (4) ගාන්තාරය

**18.** (1) හායිකාව (2) කායිකාව (3) ගායිකාව (4) ගායිගාව

**19.** **නිවැරදිව අකුරු යෙදී ඇති** පද පේළිය තෝරන්න.
(1) සැරසිළි, සාකච්ඡාව, එළකිරි, දුරකථනය
(2) වර්ශාව, වාර්තාව, දක්ෂතාව, පැමිණිල්ල
(3) ආරාධනාව, ප්‍රතිඵල, ප්‍රදර්ශනය, ආදර්ෂය
(4) දකුණත, භෝජනය, ආරම්භය, නිශ්ශබ්දතාව

[ 3 වැනි පිටුව බලන්න / பக். 3 ஐப் பார்க்க / *see page three*

20. **ව්‍යාකරණානුකූලව නිවැරදි** වාක්‍යය තෝරන්න.
(1) බැතිමතුන් විසින් දෙවියෝ පුදනු ලබයි. (2) ගොවියෝ රටේ සංවර්ධනයට උරදෙති.
(3) හොරුන් රංචුව පළා ගියහ. (4) ලුණු කැරැල්ල ලීයක එල්ලෙති.

- අංක **21** සිට **25** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **සමානාර්ථයක් දෙන පදය** තෝරන්න.
**21** தொடக்கம் **25** வரையுள்ள வினாக்களில் தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுக்குரிய **ஒத்தக்கருத்துச் சொல்லைத்** தெரிவு செய்க.
Select the **synonym** for the word given at the beginning in questions no. **21** to **25**.

21. සතුට : (1) දුක (2) සොම්නස (3) දොම්නස (4) සසල

22. කෝපය : (1) තරහව (2) තණ්හාව (3) තරුණ (4) තවලම

23. අම්මා : (1) මුණුබුරා (2) සොයුරු (3) මෑණි (4) පිතෘ

24. අලියා : (1) හතුරු (2) හය (3) හසුරු (4) හස්තියා

25. ගස : (1) රුක (2) තරු (3) අග (4) රුපු

- අංක **26** සිට **30** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **විරුද්ධාර්ථයක් දෙන පදය** තෝරන්න.
**26** தொடக்கம் **30** வரையுள்ள வினாக்களில் தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுக்குரிய **எதிர்க்கருத்துச் சொல்லைத்** தெரிவு செய்க.
Select the **antonym** for the word given at the beginning in questions no. **26** to **30**.

26. පිපුණු : (1) පිබිදුණු (2) පරණ (3) පිරුණු (4) පරවුණු

27. නවීන : (1) නූතන (2) පැරණි (3) ප්‍රවීණ (4) අදීන

28. එළිය : (1) අඳුර (2) අසල (3) අම්ල (4) අවිය

29. තද : (1) දිය (2) අලංකාර (3) මොළොක් (4) ලස්සන

30. බලවත් : (1) දුර්වල (2) අචල (3) චංචල (4) දුප්පත්

- අංක **31** සිට **35** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට කිසිදු ආකාරයකින් සම්බන්ධයක් **නොමැති** වචනය තෝරන්න.
**31** தொடக்கம் **35** வரையுள்ள வினாக்களில் தொடக்கத்தில் தரப்பட்டுள்ள சொல்லுடன் எவ்விதத் தொடர்பும் **அற்ற** சொல்லைத் தெரிவு செய்க.
Select the word which is completely **unrelated** to the word given at the beginning in questions no. **31** to **35**.

31. බෙහෙත් : (1) රෝගියා (2) රෝහල (3) ගංගාව (4) වෛද්‍යවරයා

32. සිනහව : (1) තරුව (2) සොම්නස (3) සතුට (4) මුහුණ

33. හංසයා : (1) ජලය (2) වැව (3) උදැල්ල (4) පක්ෂියා

34. හිරු : (1) පාසල (2) රශ්මිය (3) අහස (4) දහවල

35. සිංහයා : (1) කේශර (2) ගර්ජනාව (3) ගෙදර (4) කැලෑව

[ 4 වැනි පිටුව බලන්න / பக். 4 ஐப் பார்க்க / *see page four*

● අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවල දී ඇති ප්‍රකාශ වෙනුවෙන් යෙදිය හැකි **තනි වචනය** තෝරන්න.

**36** தொடக்கம் **40** வரையுள்ள வினாக்களில் தரப்பட்டுள்ள விடயங்களுக்குப் பதிலாகப் பயன்படுத்தத்தக்க **தனிச் சொல்லைத்** தெரிவு செய்க.

Select the suitable **single word** for the group of words given in questions no. **36** to **40**.

**36.** පිටරටින් භාණ්ඩ මෙරටට ගෙන්වීම
(1) උද්ධමනය (2) අපනයනය (3) ආනයනය (4) අවධමනය

**37.** රිදී ලෝහයෙන් කරන ලද
(1) දාරුමය (2) ශෛලමය (3) කනකමය (4) රජතමය

**38.** පොත්පත් හා ලිපිද්‍රව්‍ය තැන්පත් කර ඇති ස්ථානය
(1) ලේඛනාගාරය (2) දේශනාගාරය (3) ශ්‍රවණාගාරය (4) ප්‍රේක්ෂකාගාරය

**39.** රාත්‍රි කාලයේ හැසිරෙන
(1) යෝගාවචර (2) වනචර (3) ජලචර (4) නිශාචර

**40.** විසිපස්වන සංවත්සරය
(1) රජත ජයන්තිය (2) ස්වර්ණ ජන්තිය (3) වජ්‍ර ජයන්තිය (4) සියවස් සැමරුම

* *

[ 5 වැනි පිටුව බලන්න / பக். 5 ஐப் பார்க்க / *see page five*

පැරණි නිර්දේශය/பழைய பாடத்திட்டம்/Old Syllabus

OLD

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

64 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

දෙවන බස - සිංහල II
இரண்டாம் மொழி - சிங்களம் II
Second Language - Sinhala II

දෙවන බස - සිංහල II    இரண்டாம் மொழி - சிங்களம் II    Second Language - Sinhala II

- I කොටසේ අංක **1** හා **2** ප්‍රශ්න ඇතුළු ව **II** හා **III** කොටස්වලින් එක් ප්‍රශ්නය බැගින් තෝරාගෙන, ප්‍රශ්න **හතරකට** පමණක් උත්තර ලියන්න.

  பகுதி **I** இல் **1 ஆம் 2 ஆம்** வினாக்கள் உட்பட பகுதி **II,** பகுதி **III** ஆகியவற்றிலிருந்து ஒரு வினா வீதம் தெரிவுசெய்து எல்லாமாக **நான்கு** வினாக்களுக்கு மாத்திரம் விடை எழுதுக.

  Answer only **four** questions including questions **1** and **2** in Part **I** and selecting **one** question each from Part **II** and Part **III**.

## I කොටස / பகுதி I / Part I

**1.** පහත දැක්වෙන මාතෘකාවලින් **එකක්** ගැන **වචන 150** ක පමණ රචනයක් ලියන්න.
பின்வரும் தலைப்புகளுள் **ஒன்றைப்** பற்றி ஏறத்தாழ **150 சொற்களில்** கட்டுரை எழுதுக.
Write an essay of about **150 words** on any **one** of the following topics.

(i) වැඩිහිටියන්ට උදවු කරමු
(ii) රූපවාහිනිය හා ළමා පරපුර
(iii) සමගියෙන් වැඩ කර රට ගොඩනගමු
(iv) මා ගුරුවරයකු වුණොත්
(v) ගංවතුර තර්ජනයෙන් මිදෙමු

**2.** පහත දැක්වෙන "අ" යටතේ ඇති වාක්‍යවල **කළු** කර ඇති පද සුදුසු පරිදි ගළපා "ආ" යටතේ එන වාක්‍යවල හිස්තැන් සම්පූර්ණ කර, ඔබේ උත්තර පත්‍රයෙහි ලියන්න.
"අ" நிரலில் **தடித்த** எழுத்தில் உள்ள சொல்லைப் பொருத்தமான விதத்தில் பயன்படுத்தி "ආ" நிரலில் உள்ள இடைவெளியைப் பூர்த்தி செய்து உமது விடைத்தாளில் எழுதுக.
Fill the blanks in the sentences in "ආ" with the suitable form of the words in **black** type in the sentences in "අ" and write them in your answer script.

| | "අ" | "ආ" |
|---|---|---|
| (i) | අශ්වයෝ වේගයෙන් **දුවති.** | අශ්වයෙක් වේගයෙන් .......................... |
| (ii) | **ඔහු** මට පොතක් දුන්නේ ය. | .......................... මට පොත් දුන්හ. |
| (iii) | අපි ඔවුන්ට උදවු **කළෙමු.** | ඔවුහු අපට උදවු ............................... |
| (iv) | සුමල් අධ්‍යාපන චාරිකාව **ගියේ ය.** | සුමල් සමග අපි අධ්‍යාපන චාරිකාව ................... |
| (v) | දෙමව්පියන් විසින් **දරුවෝ** රැකෙති. | දෙමව්පියෝ .......................... රකිති. |
| (vi) | ගස සුළඟට **සෙලවෙයි.** | ගස් සුළඟට ................................. . |
| (vii) | **මුවෙක්** තණකොළ කයි. | තණකොළ කන .................... මම දුටිමි. |
| (viii) | මාළුවා අප අසලට පීනා **එයි.** | මාළු රංචුව අප අසලට පීනා ................. . |
| (ix) | ශිෂ්‍යයා රචනාවක් **ලියුවේ ය.** | ශිෂ්‍යාව රචනාවක් ...................... . |
| (x) | සමහරෙක් රැස්වීමට **යති.** | සමහරු රැස්වීමට ...................... . |

[ 6 වැනි පිටුව බලන්න / பக். 6 ஐப் பார்க்க / *see page six*

## II කොටස / பகுதி II / Part II

- **3** හා **4** යන ප්‍රශ්නවලින් **එකකට** පමණක් උත්තර සපයන්න.
  **3** ஆம் **4** ஆம் வினாக்களுள் ஏதேனும் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
  Answer only **one** question from questions **3** and **4**.

**3.** වචන සංඛ්‍යාව **25 ක්** පමණ වන සේ පහත දැක්වෙන පාඨය සාරාංශ කොට ලියන්න.
**பின்வரும் உரைப் பகுதியைச் சுருக்கி ஏறத்தாழ 25** சொற்களில் எழுதுக.
Write a summary of the following passage in about **25 words.**

කුරුලු සම්පත සොබාදහමේ එක් දායාදයකි. පරිසර මාතාවගේ තනියට ළඟ රැඳෙමින් මිහිරි නදින් අප පිනවීමේ නිරන්තර කාර්යයක නිරත වන ඔවුහු අපේ මිතුරෝ ය. ලෝකයේ අන් රටවල දක්නට නොලැබෙන කුරුලු වර්ගවලට ද තවත් බොහෝ කුරුලු වර්ගවලට ද ලක්බිම නිවසක් වී තිබේ. අපට ම ආවේණික වූ වටිනා කුරුලු වර්ග බොහොමයක් ශ්‍රී ලංකාවේ දක්නට ලැබීම ආඩම්බරයට කරුණකි. තුරුලතාවලින් පමණක් සපිරුණු පරිසරයක සොඳුරුබව ඉස්මතු කරන්නට කුරුලු සම්පතින් ලැබෙන්නේ නොමඳ පිටිවහලකි. එසේ ම කුරුල්ලන්ගේ අවිහිංසකබව නිසා ඒ චමත්කාරය තවත් වර්ධනය වී ඇත. සංචාරකයන්ගේ නෙත් පිනවීමට ද ඔවුන් සමත් වී ඇත. අපේ කුරුලු පාරාදීසය නැරඹීමට අද සංචාරකයෝ දැඩි උනන්දුවක් දක්වති.

**4.** පහත දැක්වෙන කොටස ලිඛිත භාෂාවෙන් ලියන්න.
பின்வரும் உரைப் பகுதியை எழுத்து மொழியில் எழுதுக.
Write the following passage in written language.

මම කැලෑවේ ඇවිදින්නට ගියා. ඈත වැවේ අලි රංචුවක් හිටියා. අලි රංචුව වැවේ දිය නෑවා. මුව රැළක් ඒ අසල තණකොළ කමින් හිටියා. පුංචි මුව පැටියෙකුත් හිටියා. අපි ඈත ඉඳන් ඡායාරූප ගත්තා. හවස් කාලය නිසා සිසිල් සුළං රැල්ලක් හමා ගියා. එකවර ම කොටියෙක් මුව රංචුව වෙත පැන්නා. මුව රංචුව සීසීකඩ දිව්වා. කොටියගේ කුරුමානම වැරදුණා.

## III කොටස / பகுதி III / Part III

- **5** හා **6** යන ප්‍රශ්නවලින් **එක්** ප්‍රශ්නයකට පමණක් උත්තර සපයන්න.
  **5** ஆம் **6** ஆம் வினாக்களுள் ஏதேனும் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
  Answer only **one** question from questions **5** and **6**.

**5.** ජයපුර ග්‍රාම සංවර්ධන සමිතිය මගින් ගමේ පාරවල් පිරිසිදු කිරීම සඳහා ශ්‍රමදානයක් පැවැත්වීමට සැලසුම් කර ඇත. මේ පිළිබඳ ගම්වැසියන් දැනුවත් කිරීම සඳහා 2018.01.18 දින ප.ව. 2.00 ට රැස්වීමක් කැඳවීමට නිලධාරි මණ්ඩලය අදහස් කරගෙන ඇත. පැවැත්වෙන ස්ථානය ජයපුර ප්‍රජාශාලාවයි. ඉහත දැක්වෙන තොරතුරු ආශ්‍රයෙන් රැස්වීම පිළිබඳ ගම් වැසියන් දැනුවත් කිරීම සඳහා සුදුසු දැන්වීමක් සකස් කරන්න. ග්‍රාම සංවර්ධන සමිතියේ ලේකම් කේ. ජයකුමාර ඔබ යැයි සිතන්න.

**නැතහොත්**

ජයපුර තරුණ සමිතිය මගින් කෞතුකාගාරය නැරඹීම සඳහා චාරිකාවක් යෑමට සැලසුම් කර ඇත. චාරිකාව යන දිනය 2018.01.20 දිනයි. කෞතුකාගාරය නැරඹීම සඳහා අවසර ඉල්ලා කෞතුකාගාර අධ්‍යක්ෂ වෙත යැවීමට සුදුසු රාජකාරි ලිපියක් ලියන්න. තරුණ සමිතියේ ලේකම් ලක්ෂ්මී කුමාරි ඔබ යැයි සිතන්න.

**6.** පහත දැක්වෙන දෙමළ / ඉංග්‍රීසි වාක්‍ය **සිංහලට** පරිවර්තනය කරන්න.
பின்வரும் தமிழ் / ஆங்கில வாக்கியங்களை **சிங்களத்தில்** மொழி பெயர்க்க.
Translate the following Tamil / English sentences into **Sinhala**.

(i) நான் ஒரு படம் வரைந்தேன்.
(ii) நீங்கள் ஏன் சிரிக்கிறீர்கள் ?
(iii) நான் ஒரு நண்பனைச் சந்திக்கச் சென்றேன்.
(iv) நீங்கள் எப்போது கொழும்புக்குப் போவீர்கள் ?
(v) நாங்கள் நன்றாகப் படிப்போம்.

(i) I drew a picture.
(ii) Why are you laughing?
(iii) I went to meet a friend.
(iv) When will you go to Colombo?
(v) We study well.

* * *